ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

ශ්‍රී ලංකා රජයේ පුස්තකාලයාධිපති සේවයේ III වැනි පන්තියට බඳවා ගැනීමේ
විවෘත තරග විභාගය - 2013 (2014)

## (01) පුස්තකාල විද්‍යාව

පැ තුනයි

ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

---

**1.** (i) "විශේෂ පුස්තකාලයක සේවා විශේෂිත පාඨක පිරිසකට සීමා වේ." පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

(ii) පර්යේෂණ පුස්තකාලයකින් (Research Library) පර්යේෂකයින් සඳහා ලබාදිය හැකි ප්‍රමුඛ සේවා පහක් නම් කර ඒවා පිළිබඳ කෙටි විග්‍රහයක් ඉදිරිපත් කරන්න. (ලකුණු 10 යි)

**2.** (i) පුස්තකාල ද්‍රව්‍යවල ආරක්ෂාව හා සංරක්ෂණය පිළිබඳ සැලකීමේ දී පුස්තකාල ගොඩනැගිල්ල සඳහා භූමිය තෝරා ගැනීමේ සිට ගොඩනැගිල්ල ඉදිකිරීම දක්වා ක්‍රියාදාමය තුළ අවධානය යොමු කළයුතු කරුණු පිළිබඳ කෙටි විවරණයක් ඉදිරිපත් කරන්න. (ලකුණු 10 යි)

(ii) පුස්තකාල ගොඩනැගිල්ලක අභ්‍යන්තර සැලසුම්කරණයේ දී සලකා බැලිය යුතු මූලික කරුණු පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

**3.** (i) පුස්තකාලයක, දැනුම වර්ගීකරණ ක්‍රමයක් භාවිතයෙන් ලැබිය හැකි ප්‍රයෝජන පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

(ii) දැනුම වර්ගීකරණයේ දී ඩිවි දශම වර්ගීකරණ ක්‍රමය කොතෙක් දුරට ඵලදායි ද යන්න විභාග කරන්න. (ලකුණු 10 යි)

**4.** (i) එකතු සංවර්ධනය (Collection development) යනු කුමක්දැයි නිර්වචනයක් ඇසුරෙන් විග්‍රහ කරන්න. (ලකුණු 10 යි)

(ii) විධිමත් පුස්තකාල සම්පත් එකතුවක් ගොඩනැගීම සඳහා "එකතු සංවර්ධන ප්‍රතිපත්තියක" ඇති වැදගත්කම සාකච්ඡා කරන්න. (ලකුණු 10 යි)

**5.** (i) පුස්තකාලයක් හා ජනමාධ්‍යයක් අතර වෙනස පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(ii) පුස්තකාලයකට සන්නිවේදනයේ ඇති වැදගත්කම කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 05 යි)

(iii) සන්නිවේදන පද්ධතියක ප්‍රධාන සංරචක පිළිබඳ කෙටි හැඳින්වීමක් කරන්න. (ලකුණු 10 යි)

**6.** (i) පුස්තකාල ස්වයංක්‍රියකරණය (Library Automation) යනුවෙන් අදහස් කරන්නේ කුමක්දැයි පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

(ii) පුස්තකාලවල සේවා පවත්වාගෙන යාමේදී පරිගණක තාක්ෂණය මගින් ලැබෙන පිටිවහල කවර ආකාර ද? විමසන්න. (ලකුණු 10 යි)

**7.** පහත සඳහන් මාතෘකා හතරක් පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) ප්‍රකාශන හිමිකම් නීතිය (Copyright Law)

(ii) පුස්තකාල ද්‍රව්‍ය අපහරණය (Weeding)

(iii) ශ්‍රී ලංකා පුස්තකාල සංගමය

(iv) පුස්තකාල උපදේශක කමිටු

(v) පාඨක අධ්‍යාපනය

(ලකුණු 04 × 5 = 20 යි)

* * *